# කතෝලික ආගම - ක්‍රිස්තියානි ආගම සහ කතෝලික ආක්‍රමණය

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

ජේසුස් ක්‍රිස්තු උතුමාණෝ ශ්‍රේෂ්ඨ ආගමික නායකයෙකි, ගරු කටයුත්තෙකි, පිදිය යුත්තෙකි. ඒ උතුමාගේ ජීවිත කාලයෙහි අවුරුදු දහතුනක් නිෂ්ක්‍රිය කාලපරිච්ඡේදයකි. ඒ කාලය පිළිබඳ වැ ක්‍රෛස්තව උගත්හු කණ්ඩායම් වලට බෙදී පර්යේෂණ පැවැත්වූහ.

මේ උගත් කණ්ඩායම් දෙකක් මට ද හමු වී ඇත. එයින් එකක් ඉන්දියාවේ දී ය. අනෙක් කණ්ඩායම නේපාලයේ දී ය. ඉන්දියාවේ දී මුණ ගැසුණු කණ්ඩායම කීවේ ඔවුනට එක්රැස් කරගන්නට ලැබුණු කරුණුවලින් ජේසුස් ක්‍රිස්තු උතුමාණන් ඔය අවුරුදු 13 ඉන්දියාවේ වාසය කොට ඇති බවයි. එසේම බුද්ධාගමෙනුත් හින්දු ආගමෙනුත් ධර්මයත් කරුණා මෛත්‍රී ආදී ගුණත් ඉගෙන ගෙන ඇති බවයි. ඇතැම් කරුණු වලින් පෙනුනේ ජේසුස් ක්‍රිස්තු උතුමාණන් බෞද්ධ විහාරස්ථානයක මහණ වී සිටිමින් බුද්ධ ධර්මයත් බෞද්ධ චාරිත්‍රත් ඉගෙන ගෙන ඇති බවයි.

ඒ විද්වතුන් එයට සාධක වශයෙන් දැක් වූ කරුණු වලින් එකක් නම් ජේසුස් ක්‍රිස්තු උතුමාණන් ළග තිබුණු කරුණා මෛත්‍රී ගුණ යි. පරණ තෙස්තමේන්තුවේ තිබෙන දරුණු ප්‍රකාශ නැති බවයි. ඔවුන්ගේ මේ ප්‍රකාශ වලින් පැහැදිලි වන්නේ ජේසුස් ක්‍රිස්තු උතුමාණන් ළඟ තිබුණු සත්ගුණ ඉන්දියාවේ වාසය කළ කාලයෙහි ලබා ගත් ආභාසය නිසා බව යි. එහි සත්‍යාසත්‍යභාවය තීරණය කිරීම මහජනතාවට භාර කරමි. පරීක්ෂණ සඳහා නේපාලයට ගොස් සිටි උගත් කණ්ඩායම මුණ ගැසුණේ ඔවුන් එහි පැමිණි කාලයෙහි ම ය. එහෙයින් ඔවුනට ස්ථිර ව යමක් කියන්නට හැකියාවක් තිබුණේ නැත.

## ශ්‍රී ලංකාවට කතෝලික ආගම ආ සැටි:

රෝමයෙන් පටන් ගෙන යුරෝපය පුරා පැතිර ගිය කතෝලික ආගමට අවුරුදු 1993 ක ඉතිහාසයක් ඇත. ජේසුස් ක්‍රිස්තු උතුමාණන්ගේ උතුම්කමට එය යුරෝපය පුරා පැතිර ගියේ ය. අපි කතෝලික ආගම අගය කොට සලකමු. අපේ විරෝධය කතෝලික ආක්‍රමණයට යි.

කතෝලික ආගම ශ්‍රී ලංකාවට පැමිණියේ 1505 දී ශ්‍රී ලංකාව ආක්‍රමණය කළ පෘතුගීසීන් සමඟ ය. ක්‍රිස්තු වර්ෂ 1505 දී ශ්‍රී ලංකාව ආක්‍රමණය කළෝ කතෝලික පෘතුග්‍රීසීහු ය. පළමුව තුවක්කු අතට ගත් සෙබළු ය. දෙවනුව බයිබලය අතට ගත් පූජකයෝ ය.

## ශ්‍රී ලංකාවට ක්‍රිස්තියානි ආගම ආ සැටි:

ක්‍රි. ව. 1640 වැන්නෙහි ඕලන්දයන් විසින් ශ්‍රී ලංකාව ආක්‍රමණය කරන ලදී. පළමු ව තුවක්කු ඔසවා ගත් සෙබළු ය. දෙවනුව බයිබලය අතට ගත් පූජකයෝ ය. ඔවුහු පෘතුගීසීන් තරම් නපුරු නො වුවත් සෑහෙන මනුෂ්‍ය ඝාතනයන් හා වෙහෙර විහාර විනාශයක් කළහ. එකල කතෝලිකයන් හා ක්‍රිස්තියානින් අතර බද්ධ වෛරයක් තිබිණි. එහෙයින් ඔවුනට උවමනා වූයේ සිංහල බෞද්ධයන් විනාශ කරනවාට වඩා කතෝලිකයන් විනාශ කිරීම යි.

සිංහලයන්ගේ බෞද්ධකමේ වැදගත්කම මැදහත්ව සලකා බලන්න. සිංහල බෞද්ධයනට සිදු කළ විනාශය ගැන සලකා ඕලන්ද ක්‍රිස්තියානින් සමඟ එක් වී කතෝලිකයන් විනාශ කර දමන්නට ඉඩ තිබුණි. එහෙත් බෞද්ධ කම නිසා එසේ නොකොට කතෝලිකයන් ආරක්ෂා කළහ. සිංහල රාජ්‍යපාලකයෝ හා සිංහල බෞද්ධයෝ ද එකතු වී කතෝලිකයන් කන්ද උඩරට ප්‍රදේශවලට ගෙන ගොස් පදිංචි කරවා රැක ගත්හ.

ඕලන්ද ක්‍රිස්තියානීහු ද සිංහල බෞද්ධයන් දුර්වල කොට පාලන බලය තහවුරු කැරගන්නට මනුෂ්‍ය ඝාතනයන් කළහ. විහාරස්ථාන විනාශ කළහ. එහෙත් ඔවුන් සිතූ තරම් බෞද්ධයන් දුර්වල වූණේ නැත. ඔවුන්ගේ තුවක්කුවට හමුදාවට මෙල්ල කරන්නට බැරි බලය තිබෙන්නේ කොහි දැයි සොයා බලන විට පෙණුනේ ගමේ පන්සලයි. ආක්‍රමණ වලින්

නොයෙක් පීඩා වින්දත් බෞද්ධයෝ සතර පෙහොයට පන්සල් යෑම බුදුන් වැඳ බණ අසා ගමේ දියුණුවට උපකාර වන කරුණු සාකච්ඡා කිරීම හා ළමයිනට අධ්‍යාපනය දීම නොකඩවා කළහ.

පළමු ව පන්සල් අධ්‍යාපනය උදුරා ගෙන මිෂනාරීන් අතට දෙන ලදී. එහෙයින් 1812 දී බැප්ටිස්වරු ද 1814 දී වෙස්ලියන්වරු ද, 1816 දී චර්ච් මිෂනාරීවරු ද පැමිණ ආගම් ප්‍රචාරක කටයුතු අරම්භ කරන ලදී. රජයේ සැලකිලි ලැබුනේ ඔවුනට ය. එයින් පන්සල් අධ්‍යාපනය දුර්වල විය. 1821 දී කොළඹ ආච්බිෂොප් හැටියට පත් වූ දේවගැතිතුමා පාඨශාලා පරීක්‍ෂක හැටියට පත්කැරිණි. එයින් පල්ලි පාසල් ප්‍රබල විය. පන්සල් පාසල් දුර්වල විය.

බෞද්ධයන් අතර තිබුණේ සතර පෙහොය නිවාඩුවයි. බෞද්ධයෝ සතර පොහායට පන්සල් යෑම හොඳින් කළහ. එයින් ගිහි පැවිදි සම්බන්ධය හොඳින් පැවතිණි. එය දැන ගත් ඕලන්ද පාලකයෝ අවුරුදු 2078 ක් පැවති පෙහොය නිවාඩුව අවලංගු කොට 1770 දී ඉරිදා නිවාඩු පනත සම්මත කළහ. එහෙත් බෞද්ධයන් එය පිළිගත්තේ නැත. ඉරිදා නිවාඩුව 1817 දී ඉංග්‍රීසීන් විසින් ද සම්මත කර ගන්නා ලද්දේ නොයෙක් වධ හිංසා හා දඬුවම් දීමෙනි.

## කතෝලික ආක්‍රමණය:

කතෝලික ආගම එකකි. කතෝලික ආක්‍රමණය තව එකකි. අප කතෝලික ආගමට විරුද්ධ නැත. එහෙත් කතෝලික ආක්‍රමණයට සියයට පන්සියයක් විරුද්ධ ය. කුමක් ද මේ කතෝලික ආක්‍රමණය යනු සමහරුන්ගේ ප්‍රශ්නයයි. කතෝලික ආක්‍රමණය නම්:

1. ආගමේ නාමයෙන් මිනී මරන
2. සෙසු ආගම් විනාශ කරන
3. ආණ්ඩු පෙරලන කූට ව්‍යාපාර

1. **මිනී මැරුම්:** අන් රටවල මිනී මැරුම් අපට කුමකට ද? 1505 දී ශ්‍රී ලංකාව ආක්‍රමණය කළෝ කතෝලික පෘතුගීසිහු ය. ඔවුන්ගේ පැමිණීමෙන් බාහිර වශයෙන් ඇති වූ දියුණුව ගැන ද කෘතඥ වෙමු. පාලන බලය අල්ලා ගන්නටත් කතෝලික ආගම පතුරුවා ගන්නටත් කළ මිනී මැරුම් සංඛ්‍යාව අතිවිශාල ය. ජෙරනිමෝද අසවේදු සෙන්පතියාගේ අණසක පරිදි කැළණිය ආසන්නයේ තුඩුව අල්ලා අතදරුවන් උඩට විසි කොට කඩුව ඇල්ලූ සැටිත් මවුවරුන් අසළ ගඟේ කිඹුලන්ට කන්න දැමූ සැටිත් කතෝලික ආක්‍රමණය කෙබඳු දැයි සිතා ගන්නට මොළේ තිබෙන අයට නම් හොඳට ම ප්‍රමාණවත් ය. මෙය ඉතා සැකෙවින් සඳහන් කළේ විස්තර කළොත් සිංහලයන්ගේ ලේ උණු වන්නට ඉඩ තිබෙන නිසා ය.

   1611 දී පෘතුගාලේ කතෝලික රජතුමා විසින් ලංකාව අල්ලා ගැනීමටත් කතෝලික ආගමට හරවා ගැනීමටත් සිදු කළ අතිභීෂණ අපරාධවලට සැලකිල්ලක් වශයෙන් හෝ අසවේදු සෙන්පතියා ඉන්දියාවේ ප්‍රතිරාජ ධුරයට පත් කරන ලදී. ඔහු ඒ ධුරය දරද්දී නොයෙක් හේතූන් නිසා සිය රටට ගෙන්වා ජීවිතාන්තය දක්වා බන්ධනාගාර ගත කරන ලදී. ලංකාවේ දී කරන ලද අතිභීෂණ අපරාධවලට දෙවියන් වහන්සේ දුන් දඬුවම එය බව පරියායි ද සූසා මහතා පවසා ඇත. අසවේදු සෙනවියා බන්ධනාගාරයෙහි දී වින්ද දුක් විස්තර කිරීමට අවශ්‍ය නැත.

2. **ආගම විනාශ කිරිම:** 1546 මාර්තු 18 වෙනිදා පෘතුගාලයෙහි තුන්වැනි ජෝන් රජතුමා ගෝවේ සිටි ඔහුගේ කතෝලික ප්‍රතිරාජයා වෙත ලිපියක් එවමින් ඉන්දියාවේත් ලංකාවේත් පෘතුගීසින්ට අයත් ප්‍රතිමා වන්දනාවට විද්ධව වැ කළ නියෝගය මෙසේ ය.

   **"කාර්යක්ෂම නිලධාරීන් යොදවා ප්‍රතිමාවන් තිබෙන තැන් සොයා ගෙන එවා සුණුවිසුණු කොට අළු කර දමන ලෙස නියෝග කරමු. ලෝහ ලී මැටි ආදී කවර ද්‍රව්‍යයෙකින් වුවද කවර ප්‍රතිමාවක් වුවද කොටවන අඹවන ලද සිතුවම් කරන ලද හෝ එසේම එබඳු ප්‍රතිමා පිටරටවලින් ගෙනෙන සියලු දෙනාට ද මහජන ස්ථාන වලදී හෝ ගේදොර දී හෝ උත්සව වලදී හෝ සම්බන්ධ වන්නා වූ සියලු දෙනාට ම ඉතා දරුණු දඬුවම් පැමිණිය යුතු ය."**

කතෝලික රජතුමා ගේ ආඥාව මෙහේ කතෝලිකයෝ සියයට පන්සියයක් ක්‍රියාවට නැංවූහ. අහෝ බෞද්ධ විහාරාරාම විනාශ කළ තරම්! කතෝලික ආක්‍රමණ කෙබඳු දැයි දැන් වත් තේරෙනවා ද?

3. **ආණ්ඩු පෙරළීම:** පෝටරිකෝව ස්පාඤ්ඤ සම්භවයක් ඇති ජනතාව වාසය කරන කතෝලික රටකි. සියයට 85 ක් කතෝලිකයෝ ය. දහයක් ක්‍රිස්තියානිහු ය. මුල් කාලයෙහි පාලන තන්ත්‍රයට කතෝලික සභාව තදින් බලපෑවේ ය. ඇමරිකාවේ ආධාර ඇතිව රට දියුණු වුවාට පසු කතෝලික සභාවේ අණසක වඩා ගණන් ගෙන නැත. ඊළගට සඳහන් එහි මධ්‍යම පන්තියේ උගතුන් ලියවිලි පෙන්වා කියූ කරුණකි.

ඒ වසරේ දී මැතිවරණයේ දී රජයට විරුද්ධ පිරිස **"ක්‍රිස්ටියන් ඇක්ටිව් පාටි"** නමින් දේශපාලන පක්ෂයක් හැදූහ. ඒ අය කීවේ මෙයට දිය යුත්තේ **"කැතලික් ඇක්‍ෂන් පාටි"** යන නම බවයි. මේ වැඩ පිළිවෙළ පිටුපස්සේ සිටියේ ඒ රටේ කතෝලික බිෂොප්තුමා බව ඔවුහු කීහ. මැතිවරණය ළං වූ විට ක්‍රිස්ටියන් ඇක්ටිව් පාටියට ඡන්දය දෙන්නැයි එහි බිෂොප්වරුන්ගේ නමින් ලිඛිත ඉල්ලීමක් කැරිණි. එහෙත් ඒ පක්ෂයට ඡන්දය ලැබුණේ සියයට හයෙකි. දියුණු ලෝකයේත් කතෝලිකයන් කළ සෙල්ලම් පේනවා නේද?

ලංකාවේ පෘතුග්‍රීසි පාලන යුගය ගැන ඉමර්සන් ටෙනන්ට් සඳහන් කරන්නේ මෙසේ ය: "යුරෝපීයයන්ගේ යටත් විජිත පාලන යුගය පිළිබඳ ඉතිහාසයේ ලංකාවේ පෘතුග්‍රීසින්ගේ ක්‍රියා කලාපය තරම් අන්ධකාර සහ ජුගුප්සාජනක පරිච්ඡේදයක් තවත් නැත", යනුයි.

## සිංහල බෞද්ධකමේ හැටි:

කතෝලික හා ක්‍රිස්තියානි දෙපිරිස ම හොඳිනුත් නරකිනුත් හැම අපරාධයක් ම කොටත් ඔවුනට සිංහල බෞද්ධයන්ගෙන් හරවා ගන්නට පිළිවන් වූයේ සියයට හතරයි. දෙමළ ජනතාවගෙන් සියයට විසිනවයක් හරවා ගෙන ඇත. 1981 න් පසු ජනසංගණනයක් පවත්වා නැත.

1981 ජනසංගණනය අනුව සිංහලයන් සියයට 73.95 යි. රවුම් ගණනක් කියනවා නම් සියයට 74 යි. දමිළයන් 18.22 යි. ආගමික වශයෙන් ගත් කළ බෞද්ධයන් 69.30 යි. එනම් සියයට 70 යි. හින්දූන් වශයෙන් ගත් කළ 15.48 යි.

යුරෝපයේ රටවලත් ඇමරිකාව කැනඩාව වැනි රටවලත් කතෝලික හා ක්‍රිස්තියානීහු වේගයෙන් අඩු වෙමින් පවතී. බුද්ධ ධර්මය වේගයෙන් පැතිරෙමින් පවතී. මේ රටවල දේව විශ්වාසය වේගයෙන් බැහැගෙන යනු පෙනේ. කර්මය හා පුනරුත්පත්තිය විශ්වාසය වේගයෙන් නැගගෙන යනු පෙනේ.

පූර්වයෙහි යුරෝපයේ රටවල ත් ඇමරිකාව කැනඩාව වැනි රටවලත් ධනකුවේරයෝ තමන්ගේ මුදල් පල්ලිවලට හැරවූහ. දැන් එබඳු මෝඩකම් කරන ධනවත්හු ඒ රටවල නැත. දැන් පරිත්‍යාගශීලී ධනවතුන් කරන්නේ වැඩිපුර තිබෙන මුදල් විවිධ සේවා කරන ආසියා පදනම වැනි ආයතන වලට හැරවීමයි. ඇමරිකාවේ එබඳු ආයතන තිස් දහසකට වඩා ඇත.

ඇමරිකාවේ කතෝලික ආගම හැරුණු විට ක්‍රිස්තියානි ආගම කොටස් සියයකට වඩා බෙදී ඇත. යුරෝපයේ අන් රටවල ද එසේ බෙදී ඇත. විද්‍යාශාස්ත්‍ර දියුණු රටවල ඔවුනට කරන්නට දෙයක් නැත. එහෙයින් ආසියාවේ දුප්පත් රටවල් සොයා එන්නට පටන් ගෙන ඇත. බොහෝ මුස්ලිම් රටවල ආගම් පැතිරවීම සඳහා කවුරුවනට වත් ඉඩක් නැත. නේපාලය වැනි හින්දු රටවලට සංචාරය හා ව්‍යාපාරය සඳහා යන්නට ඉඩ ඇතත් හින්දුකාරයකු අන් ආගමකට හරවන්නට ඉඩක් නැත. ඉදින් හරවා අසු වුනොත් උසාවියට ගෙනෙන්න පිළිවන්. විනිශ්චයකාරවරයකුට එබඳු වරදකරුවකුට දෙන්නට පිළිවන් දඬුවම් 03 ක් ඇත. **1. රටින් නෙරපීම. 2. ජීවිතාන්තය තෙක් හිරේ දැමීම. 3. කාලයකට හිරේ දැමීම.** යම් යම් අවස්ථාවල මේ දඬුවම් තුනම ක්‍රියාත්මක වී ඇත.

## ක්‍රිස්තියානිට හැරවීම තහනම්:

ඉන්දියාව විශාල රටකි. ජනගහනය කෝටි සියයක් පමණ ය. හැම ජනකොටසක් ම ඇත. හැම ආගමක් ම ඇත. හින්දු ආගම මුල් තැන ගනී. ඉස්ලාම්, බෞද්ධ, ක්‍රෛස්තව ආදී ආගම් ද ඇත. ආගම් ඇදහීමේ පූර්ණ නිදහස ඇත. බුදුරජාණන් වහන්සේ ධර්ම ප්‍රචාරක කටයුතු ආරම්භ

කළේ **"අපාරුතා තෙසං අමතස්ස ද්වාරා යෙ සොතවන්තො පමුඤ්චන්තු සද්ධං"** අමාමහ නිවන් දොර ඇරියා. කන ඇත්තෝ අසා ශ්‍රද්ධාව මුදත් වා යි ප්‍රකාශ කරමින් ය. ස්වල්ප වූ ද ආමිස සංග්‍රහයක් නැති ව ධර්ම භක්තියෙන් ම බුද්ධ ධර්මය භාරතයෙහි මධ්‍ය දේශය පුරා පැතිරී ගියේ ය. ධර්මාශෝක රජතුමාගේ කාලයෙහි ධර්ම ශක්තියෙන් ම භාරතය පුරා පැතිරී ගියේ ය.

පෘතුගීසි ඕලන්ද ඉංග්‍රීසීන්ගේ පාලන යුගයෙහි දී බාහිර දියුණුවක් ලැබුවත් ජාතික ආගමික වශයෙන් ඉන්දියාවෙහි මහත් පරිහානියක් ඇති වුණි. ශ්‍රීමත් ගාන්ධිතුමා ආදීන් දිවි පුදා කළ සටනේ ප්‍රතිඵලයක් වශයෙන් දේශපාලන නිදහස ලැබුණි. මේ කාළය වන විට කතෝලික හා ක්‍රිස්තියානීහු සෑහෙන සංඛ්‍යාවක් සිටියහ. පාලන පක්ෂය හින්දූන් වුවත් ක්‍රෛස්තවයනට ආගමක් ඇදහීමේ පූර්ණ නිදහස ලැබුණි. ඔවුන් එසේ ආගම අදහාගෙන හින්දූන් සමඟ සුහදව වාසය කරමින් සිටියහ. ඒ අතරම රැකියාවක් වශයෙන් මිෂනාරි කණ්ඩායම පැමිණ ගම්වැසියන්ගේ දුප්පත්කම උපයෝගී කරගෙන නොයෙක් අයුරින් සංග්‍රහ කරමින් දුප්පත් ජනතාව ක්‍රිස්තියානි කරන්නට පටන් ගත්හ. එසේ කරන්නට එපා යයි හොඳින් කීවත් එය පිළිගත්තේ නැත. එහෙයින් රජය විසින් නිත්‍යානුකූල පනතකින් ක්‍රිස්තියානියට හැරවීම තහනම් කරන ලදී. ඔවුන්ගේ රක්‍ෂාව දිගටම කරගෙන යන්නට ශ්‍රී ලංකාවට පැනගෙන ඇත.

මේ කාරණා හොඳින් අවබෝධ කරගත් මහා සංඝයා වහන්සේ තුළ පෙරට වඩා සමගි බවක් ඇති බව සතුටින් සඳහන් කරමි. සියම් මහා නිකායේ කොටස් හතක් ඇතත් භේදයක් නැත. අමරපුර නිකායේ කොටස් විසි දෙකක් ඇතත් ඒ සියල්ල ම එකතු වී ශ්‍රී ලංකා අමරපුර මහා සංඝ සභාව පිහිටුවාගෙන ඇත. ශ්‍රී ලංකා රාමඤ්ඤ මහා නිකාය මුල පටන් ම වෙන් වීමක් නැතිව පවත්වාගෙන යයි. ශ්‍රී ලංකා සියම් මහා නිකාය, ශ්‍රී ලංකා අමරපුර මහා නිකාය, ශ්‍රී ලංකා රාමඤ්ඤ මහා නිකාය යන තුන් නිකාය ම ශාසනානුලෝම ව ඉතා හොඳින් සංවිධානය වී ඇත.

## අධීක්‍ෂණ හා කාර්ය සාධක මණ්ඩලයක්:

2532, 1988 ජුලි 23 වැනිදා මහරගම සිරි වජිරඤාණ ධර්මායතනයෙහි දී ත්‍රෛයිනිකායික මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා ප්‍රධාන මහා සංඝයා වහන්සේගේ ප්‍රධානත්වයෙන් පැවැත්වුණු මහා සංඝ සභාවේ දී කාර්ය පත්‍ර දහයක් සම්මත කර ගන්නා ලදි. ඒ කාර්ය පත්‍ර ක්‍රියාත්මක කරවීම සඳහා **"බුද්ධ ශාසනික හා බෞද්ධ කටයුතු අධීක්‍ෂණ හා කාර්ය සාධක මණ්ඩලය"** පිහිටුවා ගන්නා ලදී. මහා නිකායත්‍රයයේ මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා සතර නම මේ මණ්ඩලයේ අනුශාසකයෝ වෙති. ක්‍රියාකාරී මණ්ඩලය නිකායත්‍රයයට අයත් උගත් බුද්ධිමත්, ශාසනය සමාජය පිළිබඳ වගකිව යුතු මහ තෙරුන් වහන්සේලා දොළොස් නමකින් හා ලංකාවේ ප්‍රධාන බෞද්ධ සමිති දොළහක සභාපතිවරුන්ගෙන් හා සභාපතිනියන්ගෙන් ද යුක්ත ය. ශාසනික වූ ද සාමාජික වූ ද ප්‍රශ්න ඇති වූ විට රැස් වී සාකච්ඡා කොට රජයට ත් මහජනතාවට ත් දැන්වීම අධීක්‍ෂණ මණ්ඩලයේ චාරිත්‍රයයි.

එලෙසින් ඉතා වැදගත් අවස්ථා ගණනක දී ම අධීක්‍ෂණ මණ්ඩලය රැස් වී සාකච්ඡා කොට අප පිළිගත් පරිදි ඉතා වැදගත් අදහස් සම්පිණ්ඩනය කොට සැපයූ සන්දේශ ශ්‍රීමත් ජනාධිපතිතුමාට යවා පිටපත් පුවත්පත් වලට ද යැවීමු. ශ්‍රීමත් ජනාධිපතිතුමාගේ ලේකම්වරුන් ලියුම ලැබුණා යයි දන්වා එවූ අතර පුවත්පත් කතෘවරු ඒ ලිපි හොඳින් පළ කරවූහ. ඊට වඩා දෙයක් සිදු වූ බව දන්නේ නැත. අපේ අදහස්වලට ගෞරව කරන්නට ඇතුවාට සැකයක් නැත. එහෙත් රටට පෙණුනේ මහාසංඝයාගේ යෝජනා වලට විමුඛස්ථානය විනා ප්‍රමුඛස්ථානය නොලැබුණු බව යි.

ජනාධිපති රණසිංහ ප්‍රේමදාස ශ්‍රීමතාණන් බුද්ධ ශාසන අමාත්‍යාංශයක් ඇති කොට එහි ඇමති ධුරය තමා ම භාර ගෙන ක්‍රියා කළාක් මෙන් වර්තමාන ජනාධිපතිතුමා ද බුද්ධ ශාසන ඇමති ධුරය භාර ගෙන ක්‍රියා කිරීම ඉතා වැදගත් සිද්ධියකි. මේ අවස්ථාවෙන් සාධාරණ ප්‍රයෝජන ගනිමු.

## සර්ව සාමයික සමුළුව:

අප සිංහල බෞද්ධයන් විශේෂයෙන් භික්‍ෂූන් වහන්සේ ජාති වශයෙන් දෙමළ මුස්ලිම් ලංසි ජන කොටස් සමඟ ස්වල්ප වූද අමනාපයක් නැත. එසේ ම ආගමික වශයෙන් හින්දු, ඉස්ලාම්,

කතෝලික, ක්‍රිස්තියානි ආගමිකයන් සමග කිසිම අමනාපයක් නැත. එහෙයින් අවුරුදු විස්සකට පමණ පෙර නිකායත්‍රයයේ මහා නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේලා හා පිළිගත් මහතෙරුන් වහන්සේලා ත් හින්දු ඉස්ලාම් පූජකවරුනු ත් කතෝලික හා ක්‍රිස්තියානි බිෂොප්තුමන්ලා ත් රත්මලානේ පරමධම්ම චේතිය පිරිවෙනට රැස් ව සුහද සාකච්ඡාවකට පසු සර්ව සාමයික සමුළුවක් ආරම්භ කොට එහි ගරු ලේකම් වශයෙන් අග්ග මහා පණ්ඩිත ආචාර්ය වල්පොල රාහුළ ස්ථවිරයන් වහන්සේ පත් කර ගත්හ. එක්තරා කාලයක් ගිය පසු ක්‍රිස්තියානි බිෂොප්තුමන්ලා ආවේ නැත. තව ටික කලකට පසු කතෝලික බිෂොප්තුමන්ලා ද ආවේ නැත. එයින් සාම සම්මේලනය අහෝසි විය. දෙවනි වරට බෞද්ධ කටයුතු දෙපාර්තුමේන්තුව එබඳු සර්ව සාමයික සමුළුවක් ආරම්භ කළත් එය ද පෙර සේම අහෝසි විය.

මෙකල ඇතැම් මිෂනාරීන් සිංහල බෞද්ධයන් අතර තිබෙන දුප්පත්කම උපයෝගී කරගෙන විදේශීය මුදල් ආහාරපාන බෙහෙත් ඇඳුම් ක්‍රීඩා භාණ්ඩ ආදී නොයෙක් දේවල් දෙමින් තමන්ගේ ආගමට හරවා ගැනීම සමාජ සේවයක් නොවේ. ඉතා පහත් පෙළේ ක්‍රියාවකි. මේ පහත් ක්‍රියාවට වැඩියෙන් ම ගොදුරු වී සිටින්නෝ සිංහල බෞද්ධයෝ ය.

## සාධාරණ තහනමක්:

මැද පෙරදිග මුස්ලිම් රටවල මෙබඳු ක්‍රියාවලට ඉඩක් ඇත්තේම නැත. නේපාලය, ඉන්දියාව, මැලේසියාව අන් ආගමකට හැරවීම නීතියෙන් වළක්වා ඇත. ඒ නීතිය ශ්‍රී ලංකාවට ද අවශ්‍යයි. ස්වකීය ආගම් ඇදහීමේ පූර්ණ නිදහස තිබෙන අතර එක ආගමකින් තවත් ආගමකට හැරවීම රාජ්‍ය සභාවේ පනතකින් තහනම් කළ යුතු වේ.

මේ යෝජනාවට සියයට හැත්තෑවක් වන බෞද්ධයන් රජයට ආශිර්වාද කරමින් සතුටු වනු ඇත. සියයට අටක් වන මුස්ලිම් වරුන් ද සතුටු වනු ඇත. සියයට පහළොවක් වන හින්දූන් ද සතුටු වනු ඇත. සියයට හතයි දශම දෙකක් ඇති කතෝලිකයන් නො සතුටු නොවනු ඇත.

ගරු ඔස්වල්ඩ් ගෝමිස් රදගුරුතුමාත් සිය කතෝලික සභාවත් මෙම ආගම් හැරවීමේ වැඩ පිළිවෙලට විරුද්ධ බව පෞද්ගලිකව ත් ප්‍රසිද්ධියේ ත් පත්‍රවලින් නිවේදනය කැර ඇත. සියයට එකක් වත් නැති දසම අටක් ඉන්නා විවිධ කොටස් වලට අයත් ක්‍රිස්තියානීන් පමණක් මීට අකමැති වනු ඇත.

අන්‍යාගමිකයන් අයුතු අසාධාරණ ලෙස සිය ආගමට හරවා ගැනීමේ පහත් හීන දීන ක්‍රියාව නේපාලය ඉන්දියාව සිංග්ගප්පූරුව මැලේසියාව වැනි රටවල් නීති පනවා වළක්වා තිබෙනවා නම් ශ්‍රී ලංකාවට තහනම් කරන්නට බැරි ඇයි? ශ්‍රීමත් ජනාධිපතිතුමා ප්‍රධාන අමාත්‍ය මණ්ඩලය ත් මුළු රාජ්‍ය සභාව ත් අපේ යෝජනාව පිළි ගන්නවා ඇත යනු බලවත් විශ්වාසයයි.

අවසාන වරට ජන සංගණනය කළේ 1981 වැන්නෙහි ය. ඒ සංඛ්‍යාව අනුව මුළු ජනගහනය 1,48,46,000 යි. එයින් බෞද්ධයෝ 1,02,83,000 යි. එයින් 40,000 පමණ භික්‍ෂූන් වහන්සේලා වනු ඇත. එයින් තරුණ හා මධ්‍යම වයසේ භික්‍ෂූන් වහන්සේ 25,000 පමණ වනු ඇත. ඉදින් රජය අපේ සාධාරණ ඉල්ලීම් ක්‍රියාත්මක නොකොට සියයට දශම අටක් කරන මේ දුෂ්ප්‍රතිපත්තිය රාජ්‍ය සභා පනතකින් වළක්වන්නේ නැත්නම් රජයට නොව රජයේ දුෂ්ප්‍රතිපත්තියට විරුද්ධ ව විසිපන්දහසක් භික්‍ෂූන් වහන්සේ නැගී සිටිනු ඇත.

**"මග හොඳට තිබේ නම් - යන්නට දෑසත් පෙනේ නම්**
**කිම බැදිවල යන්නේ - මං මුළා වූ එවුන් සේ**
**මිහිරිය දිය තිබේ නම් - පැන් කැමැත්තෙක් ද වී නම්**
**මිරිඟුවට දුවන්නේ - මක් නිසා දෝ මුවන් සේ"**

- කොග්ගල ධම්මතිලක හිමි

1993 දී සාසන සේවන සමිතිය මගින් ප්‍රකාශිත
"උත්තරීතර බලය මහා සංඝ බලයයි " නම් ග්‍රන්ථයෙනි.
ප්‍රඥාප්‍රභා 7

යතුරුලිවීම:චමිත ලක්මාල් මහතා
අජිත් ද අල්විස් මහතා